008168

OL/2023(2024)/60-S-I, II



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**60 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023 (2024)

| | | |
|---|---|---|
| ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය | I, II | පැය තුනයි |
| வணிகக் கல்வியும் கணக்கீடும் | I, II | மூன்று மணித்தியாலம் |
| Business and Accounting Studies | I, II | Three hours |

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය I

උපදෙස්:

※ සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

※ අංක 1 සිට 40 තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ගන්න.

※ ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.

※ එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

● පහත සඳහන් සිද්ධිය ඇසුරෙන් අංක 1 සිට 5 තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

ගුරුඇල්ල විද්‍යාලයේ ඉගෙනුම ලබන දමිත සහ අමිත ක්‍රීඩා පුහුණුවීම් සිදු කරමින් සිටින අතරතුර ඇතුණු පිපාසය සංසිඳුවා ගැනීමට, ක්‍රීඩා ගුරුවරයා සමඟ, සිසිල් අවන්හලට ගොස් පලතුරු බීම පානය කළෝ ය. සිසිල් අවන්හල අමල් විසින් ගුරුඇල්ල වෙළෙඳ සංකීර්ණයේ කුලියට ගත් ගොඩනැගිල්ලක පවත්වාගෙන යනු ලබයි. අමල් පලතුරු බීම සැකසීම සඳහා අවශ්‍ය පලතුරු, කාබනික පොහොර පමණක් භාවිත කර පලතුරු වගා කරන හරිත ගොවිපොළෙන් මිල දී ගනියි.

1. ඉහත සිද්ධියෙහි ඇතුළත් වන අවශ්‍යතාවක් හා වුවමනාවක් පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
   (1) අධ්‍යාපනය, ගුරුඇල්ල වෙළෙඳ සංකීර්ණය
   (2) ගුරුඇල්ල විද්‍යාලය, අධ්‍යාපනය
   (3) ක්‍රීඩා පුහුණුවීම්, සෞඛ්‍යය
   (4) ආහාර, පලතුරු බීම

2. සිසිල් අවන්හලෙහි නිෂ්පාදන සාධකයක් වන ප්‍රාග්ධනය සඳහා නිදසුනක් වන්නේ
   (1) සිසිල් අවන්හල පවත්වාගෙන යන කුලියට ගත් ගොඩනැගිල්ල ය.
   (2) සිසිල් අවන්හල අසල පිහිටි ක්‍රීඩා පිටිය ය.
   (3) සිසිල් අවන්හලට පලතුරු ලබාදෙන හරිත ගොවිපොළ ය.
   (4) සිසිල් අවන්හල, පලතුරු බීම සඳහා භාවිත කරන නැවුම් පලතුරු ය.

3. සිසිල් අවන්හල අයත් වන ව්‍යාපාර සංවිධාන වර්ගය කුමක් ද?
   (1) කේවල ස්වාමි ව්‍යාපාර
   (2) හවුල් ව්‍යාපාර
   (3) සංස්ථාපිත සමාගම්
   (4) රාජ්‍ය දෙපාර්තමේන්තු

4. ගුරුඇල්ල විද්‍යාලයේ බාහිර පරිසර සාධකයකට නිදසුනක් වන්නේ
   (1) දමිත ය.
   (2) ක්‍රීඩා ගුරුවරයා ය.
   (3) අමිත ය.
   (4) අමල් ය.

5. සිසිල් අවන්හල සම්බන්ධ නිවැරදි ප්‍රකාශය තෝරන්න.
   (1) සිසිල් අවන්හල සම්බන්ධව අමල්ගේ වගකීම සීමාසහිත ය.
   (2) කාබනික පලතුරු වගාකරන හරිත ගොවිපොළ සිසිල් අවන්හලට ශක්තියකි.
   (3) සිසිල් අවන්හල, පලතුරු වගා කරනු ලබන හරිත ගොවිපොළෙහි ඇල්මැති පාර්ශ්වයකි.
   (4) සිසිල් අවන්හල අලෙවි කරනු ලබන පලතුරු බීම අලෙවිකරණ මිශ්‍රයේ ප්‍රවර්ධනයට අයත් වේ.

03030000220113168

**6.** ව්‍යාපාර නාම හා ව්‍යාපාර සංවිධාන වර්ග කිහිපයක් පහත වගුවේ දැක්වේ.

| ව්‍යාපාර නාමය | ව්‍යාපාර සංවිධාන වර්ගය |
|---|---|
| 1. ශ්‍රී ලංකා වරාය අධිකාරිය | A - සංස්ථාපිත සමාගම් |
| 2. එක්සත් ක්‍රීඩා සමාජය | B - රාජ්‍ය සංස්ථා |
| 3. සීමාසහිත ලක් පොදු සමාගම | C - හවුල් ව්‍යාපාර |
| 4. ගැමුණු සහ විපුල ලී බඩු වෙළෙඳසැල | D - සමිති සංවිධාන |

ඉහත ව්‍යාපාර නාම දී ඇති අනුපිළිවෙළ අනුව, ව්‍යාපාර සංවිධාන වර්ග සමග නිවැරදිව ගළපන ලද පිළිතුර තෝරන්න.
(1) B, D, A, C (2) B, D, C, A (3) D, B, A, C (4) D, B, C, A

**7.** ලාභ අරමුණු කරගත් ව්‍යාපාරයක් වන්නේ
(1) ශ්‍රී ලංකා දුම්රිය දෙපාර්තමේන්තුව ය.
(2) සීමාසහිත ශ්‍රී ලංකා ටෙලිකොම් පිඑල්සී ය.
(3) ශ්‍රී ලංකා විදේශ සේවා නියුක්ති කාර්යාංශය ය.
(4) විශ්වවිද්‍යාල ප්‍රතිපාදන කොමිෂන් සභාව ය.

**8.** චෙක්පතක, අණලදු සෑම විට ම
(1) ජංගම ගිණුම් හිමියෙකු වේ.
(2) බලපත්‍රලාභී වාණිජ බැංකුවක් වේ.
(3) ඉතිරි කිරීමේ ගිණුම් හිමියෙකු වේ.
(4) ශ්‍රී ලංකා මහ බැංකුව වේ.

**9.** පහත දැක්වෙන්නේ ජංගම ගිණුම් සම්බන්ධ ප්‍රකාශ දෙකකි.
**A** - ජංගම ගිණුම් ආරම්භ කළ හැක්කේ බලපත්‍රලාභී වාණිජ බැංකුවල පමණි.
**B** - ජංගම ගිණුම් සඳහා සාමාන්‍ය ඉතිරි කිරීමේ ගිණුම්වලට වඩා ඉහළ පොලී අනුපාතයක් ලබා දෙයි.

ඉහත ප්‍රකාශ සම්බන්ධ නිවැරදි පිළිතුර තෝරන්න.
(1) **A** පමණක් සත්‍ය වේ.
(2) **B** පමණක් සත්‍ය වේ.
(3) **A** හා **B** ප්‍රකාශ දෙකම සත්‍ය වේ.
(4) **A** හා **B** ප්‍රකාශ දෙකම අසත්‍ය වේ.

**10.** ශ්‍රී ලංකා ඛනිජ තෙල් නීතිගත සංස්ථාව සෑම මාසයක දී ම ඉන්ධන මිල ගණන් සංශෝධනය කරයි. මෙම ප්‍රකාශය තුළ ගම්‍ය වන ප්‍රවාහන මූලිකාංගය කුමක් ද?
(1) මාර්ගය (2) මාධ්‍යය (3) බලය (4) පර්යන්තය

**11.** අරලිය සමාගමේ කළමනාකරු විසින් සැපයුම්කරුවෙකු වෙත ෆැක්ස් පණිවුඩයක් මගින් ගැනුම් ඇණවුමක් යවා ඇත. මෙහි
(1) සියලු සන්නිවේදන මූලිකාංග ඇතුළත් සන්නිවේදන ක්‍රියාවලියක් ඇත.
(2) සන්නිවේදන ක්‍රමය වන්නේ ෆැක්ස් පණිවුඩයයි.
(3) පණිවුඩය ලබන්නා අරලිය සමාගමේ කළමනාකරු වේ.
(4) සන්නිවේදන මාධ්‍යය විද්‍යුත් වාචික වේ.

**12.** ජීවිත රක්ෂණයට බලපාන රක්ෂණ මූලධර්ම දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) රක්ෂ්‍ය හිමිකම හා උපරිම විශ්වාසය
(2) රක්ෂ්‍ය හිමිකම හා හානි පූරණය
(3) උපරිම විශ්වාසය හා හානි පූරණය
(4) රක්ෂ්‍ය හිමිකම හා දායකත්වය

● පහත සිද්ධිය ඇසුරෙන් අංක **13** සහ **14** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

තම ගොවිපොළෙහි වගා කරන කාබනික එළවලු ගෙයින් ගෙට ගොස් අලෙවි කරන රාමාගෙන් සතියේ පරිභෝජනය සඳහා එළවලු මිල දී ගැනීමට කුමාරි පුරුදු වී සිටියි.

**13.** ඉහත සිද්ධියේ සඳහන් රාමා හා කුමාරි පිළිවෙළින්
(1) සිල්ලර වෙළෙන්දා හා පාරිභෝගිකයා ය.
(2) පාරිභෝගිකයා හා සිල්ලර වෙළෙන්දා ය.
(3) තොග වෙළෙන්දා හා සිල්ලර වෙළෙන්දා ය.
(4) තොග වෙළෙන්දා හා පාරිභෝගිකයා ය.

**14.** ගෙයින් ගෙට ගොස් අලෙවි කිරීම අයත් වන අලෙවිකරණ මිශ්‍රයේ විචල්‍යය වන්නේ
(1) නිෂ්පාදිතයයි.
(2) මිලයි.
(3) ස්ථානයයි.
(4) ප්‍රවර්ධනයයි.

**15.** පාසලේ කාලපරිච්ඡේද වෙන් කිරීම සඳහා සීනුව නාද කිරීම, අයත්වන කළමනාකරණ ක්‍රියාවලියේ කාර්යය කුමක් ද?
(1) සැලසුම්කරණය
(2) සංවිධානකරණය
(3) මෙහෙයවීම
(4) පාලනය

16. සමරසිංහ නම් විශ්‍රාම පාරිතෝෂිකය කොළඹ කොටස් හුවමාරුවෙහි ලැයිස්තුගත සමාගම්වල ආයෝජනය කරයි. සමරසිංහට ලැබිය හැකි මූල්‍ය ප්‍රතිලාභ වන්නේ

(1) පොලී ආදායම් හා ලාභාංශ ය.
(2) පොලී ආදායම් හා ප්‍රාග්ධන ලාභ ය.
(3) ලාභාංශ හා ප්‍රාග්ධන ලාභ ය.
(4) ලාභාංශ හා වැටුප් ය.

17. ද්විත්ව සටහන් මූලධර්මයට අනුව වැඩිවීම් හර, අඩුවීම් බැර ලෙස සටහන් කරනු ලබන ගිණුමක් වන්නේ

(1) ණයගැති ගිණුම ය.
(2) ණයහිමි ගිණුම ය.
(3) ලද වට්ටම් ගිණුම ය.
(4) ප්‍රාග්ධන ගිණුම ය.

18. පරිගණක මිල දී ගෙන විකුණන ව්‍යාපාරයක තිබෙන පරිගණකවලින් ජංගම නොවන වත්කම් ලෙස සලකනු ලබන්නේ

(1) විකිණීම සඳහා ගබඩාවේ තිබෙන පරිගණක ය.
(2) වෙළෙඳ සැලෙහි විකිණීමට තබා ඇති පරිගණක ය.
(3) කාර්යාලයේ ප්‍රයෝජනයට ගනු ලබන පරිගණක ය.
(4) අයිතිකරුගේ පෞද්ගලික ප්‍රයෝජනය සඳහා ලබාගත් පරිගණක ය.

● පහත සිද්ධිය ඇසුරෙන් අංක 19 සිට 21 තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

රෝහණගේ ව්‍යාපාරයේ 2024 ජනවාරි මාසය තුළ සිදු වූ ගනුදෙනු කිහිපයක් පහත දැක්වේ.

A - රු. 25 000 ක භාණ්ඩ තොගයක් ණයට ගැනීම
B - රු. 75 000 ක ලී බඩු අත්පිට මුදලට ගැනීම
C - රු. 25 000 ක් පිරිවැය වූ භාණ්ඩ රු. 40 000 කට ණයට විකිණීම
D - රු. 15 000 ක් ණය හිමියෙකුට ගෙවීම

19. රෝහණගේ ව්‍යාපාරයේ වත්කම්වලට බලපාන ගනුදෙනු වන්නේ

(1) A හා B පමණි.
(2) B හා C පමණි.
(3) A, B හා C පමණි.
(4) A, B, C හා D යන සියල්ල ම ය.

20. 2024.01.31 දිනට මෙම ව්‍යාපාරයේ හිමිකම වැඩි වී ඇත්තේ

(1) රු. 15 000 කින් ය.
(2) රු. 25 000 කින් ය.
(3) රු. 40 000 කින් ය.
(4) රු. 65 000 කින් ය.

21. රෝහණගේ ව්‍යාපාරයේ 2024.01.31 දිනට මුළු වගකීම් රු. 90 000 ක් විය. ඉහත ගනුදෙනුවලට පෙර 2024.01.01 දිනට මෙම ව්‍යාපාරයේ මුළු වගකීම්වල වටිනාකම වන්නේ

(1) රු. 55 000 කි.
(2) රු. 65 000 කි.
(3) රු. 80 000 කි.
(4) රු. 105 000 කි.

22. ව්‍යාපාරයක වත්කම් මෙන්ම වගකීම් ද අඩුවන ගනුදෙනුව කුමක් ද?

(1) අයිතිකරු පෞද්ගලික ප්‍රයෝජනය සඳහා රු. 5 000 ක මුදලක් ගැනීම
(2) රු. 15 000 ක් ණයහිමියන්ට ගෙවීම
(3) රු. 13 000 ක විදුලිබිල ගෙවීම
(4) රු. 45 000 කට භාණ්ඩ තොගයක් ණයට ගැනීම

● පහත දැක්වෙන මූලාශ්‍ර ලේඛනය ඇසුරෙන් අංක **23** සහ **24** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

ඉන්වොයිසිය
රාජ් ව්‍යාපාරය
අංක 25, කුරුණෑගල

අංක : 1820
දිනය : 2024.02.25

කළමනාකරු
විජය දුරකථන සමාගම
අංක 200, වාරියපොළ

| අනු අංකය | විස්තරය | ප්‍රමාණය | ඒකක මිල (රු.) | වටිනාකම (රු.) |
|---|---|---|---|---|
| 01 | ජංගම දුරකථන<br>අඩු කළා10% වෙළෙඳ වට්ටම් | 20 | 15 000 | 300 000<br>(30 000)<br>270 000 |

2024.03.25 දිනට පෙර මුදල් ගෙවන්නේ නම්, වට්ටම 5% කි.

සහන් වික්‍රමසිංහ
විකුණුම් කළමනාකරු

**23.** ඉහත මූලාශ්‍ර ලේඛනයේ දැක්වෙන තොරතුරු ඇතුළත් කරනු ලබන රාජ්ගේ ව්‍යාපාරයේ මූලික සටහන් පොත වන්නේ,
(1) ගැනුම් ජර්නලයයි.
(2) විකුණුම් ජර්නලයයි.
(3) පොදු ජර්නලයයි.
(4) මුදල් පොතයි.

**24.** ඉහත මූලාශ්‍ර ලේඛනයේ ඇතුළත් ගනුදෙනුව, විජය දුරකථන සමාගමේ පොත්වල සටහන් කිරීමට අදාළ ද්විත්ව සටහන කුමක් ද?

(1) ගැනුම් ගිණුම හර රු. 270 000
රාජ්ගේ ගිණුම බැර රු. 270 000

(2) විජය දුරකථන සමාගමේ ගිණුම හර රු. 270 000
විකුණුම් ගිණුම බැර රු. 270 000

(3) විජය දුරකථන සමාගමේ ගිණුම හර රු. 300 000
විකුණුම් ගිණුම බැර රු. 300 000

(4) ගැනුම් ගිණුම හර රු. 300 000
රාජ්ගේ ගිණුම බැර රු. 300 000

**25.** ගෘහ භාණ්ඩ වෙළෙඳ ව්‍යාපාරයක පොදු ජර්නලයේ සටහන් කරන ගනුදෙනුවක් වන්නේ
(1) රු. 185 000 ක ලී බඩු තොගයක් අත්පිට මුදලට ගැනීම ය.
(2) රු. 175 000 ක ලී බඩු තොගයක් ණයට ගැනීම ය.
(3) රු. 125 000 ක ලී බඩු තොගයක් ව්‍යාපාරයේ ප්‍රයෝජනය සඳහා ණයට ගැනීම ය.
(4) රු. 75 000 ක ලී බඩු තොගයක් ව්‍යාපාරයේ ප්‍රයෝජන සඳහා අත්පිට මුදලට ගැනීම ය.

**26.** ව්‍යාපාරයක සුළු මුදල් භාරකරුට 2024.04.01 දින සුළු මුදල් අග්‍රිමය ප්‍රතිපූරණය කිරීම සඳහා රු. 7 500 ක් ලැබුණි. 2024.04.30 දින සුළු මුදල් පොතේ සුළු වියදම් තීරුවල මුළු එකතුව රු. 8 500 ක් වූ අතර එදිනට සුළු මුදල් පොතේ ශේෂය රු. 1 500 ක් විය. 2024.03.31 දිනට සුළු මුදල් පොතේ ශේෂය වන්නේ,
(1) රු. 1 500 කි. (2) රු. 2 500 කි. (3) රු. 8 500 කි. (4) රු. 10 000 කි.

**27.** ණයගැති වෙනුරගෙන් 2024.04.15 දින ව්‍යාපාරයට ලැබුණු රු. 20 000 ක චෙක්පත, 2024.04.20 දින බැංකුවේ තැන්පත් කරන ලදී. චෙක්පත බැංකුවේ තැන්පත් කිරීමට අදාළ නිවැරදි ද්විත්ව සටහන තෝරන්න.

(1) මුදල් ගිණුම හර රු. 20 000
බැංකු ගිණුම බැර රු. 20 000

(2) බැංකු ගිණුම හර රු. 20 000
වෙනුරගේ ගිණුම බැර රු. 20 000

(3) බැංකු ගිණුම හර රු. 20 000
මුදල් ගිණුම බැර රු. 20 000

(4) මුදල් ගිණුම හර රු. 20 000
වෙනුරගේ ගිණුම බැර රු. 20 000

**28.** ව්‍යාපාරයක බැංකු ගිණුමේ ශේෂය සංශෝධනය කිරීමේ දී යොදා ගන්නා අයිතම පමණක් ඇතුළත් පිළිතුර තෝරන්න.
(1) ණයගැති ප්‍රේෂණ, ස්ථාවර නියෝග මත ගෙවීම්
(2) ණයගැති ප්‍රේෂණ, තැන්පත් කළ නමුත් උපලබ්ධි නොවූ චෙක්පත්
(3) තැන්පත් කළ නමුත් උපලබ්ධි නොවූ චෙක්පත්, නිකුත් කළ නමුත් බැංකුවට ඉදිරිපත් නොවූ චෙක්පත්
(4) නිකුත් කළ නමුත් බැංකුවට ඉදිරිපත් නොවූ චෙක්පත්, ස්ථාවර නියෝග මත ගෙවීම්

008168

**29.** ව්‍යාපාරයේ බැංකු ගිණුමේ ශේෂයට වඩා බැංකු ප්‍රකාශනයේ ශේෂය අඩුවීමට හේතු වන ගනුදෙනුව කුමක් ද?
(1) නිකුත් කළ නමුත් බැංකුවට ඉදිරිපත් නොවූ චෙක්පත් රු. 10 000
(2) තැන්පත් කළ නමුත් උපලබ්ධි නොවූ චෙක්පත් රු. 12 000
(3) බැංකුවට සෘජුව ම ලැබුණ ලාභාංශ ආදායම රු. 8 000
(4) ණයගැති ප්‍රේෂණ රු. 5 000

**30.** රන්තරු ක්‍රීඩා සමාජයේ 2023 වර්ෂයේ මුළු ආදායම රු. 230 000 ක් වූ අතර, මුළු වියදම රු. 180 000 ක් විය. ඒ අනුව 2023 වර්ෂය සඳහා රන්තරු ක්‍රීඩා සමාජය උපයා ඇත්තේ
(1) රු. 230 000 ක අතිරික්තයකි. (2) රු. 180 000 ක ඌනතාවකි.
(3) රු. 50 000 ක අතිරික්තයකි. (4) රු. 50 000 ක ඌනතාවකි.

**31.** සුමග ළමා සමාජයේ වාර්ෂික සාමාජික මුදල රු. 200 කි. මුළු සාමාජික සංඛ්‍යාව 50 ක් වන අතර, 2023 වර්ෂය සඳහා සාමාජිකයින් 10 දෙනෙකු සාමාජික මුදල් ගෙවා නැත. 2023 වර්ෂය සඳහා පිළියෙළ කළ ලැබීම් හා ගෙවීම් ගිණුමේ ඇතුළත් කරන ලද සාමාජික මුදල වන්නේ
(1) රු. 8 000 කි. (2) රු. 10 000 කි. (3) රු. 96 000 කි. (4) රු. 120 000 කි.

**32.** මුළු නිෂ්පාදන පිරිවැය මූලිකාංග දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) සෘජු ද්‍රව්‍ය පිරිවැය, සෘජු ශ්‍රම පිරිවැය, සෘජු වෙනත් වියදම්, ප්‍රාථමික පිරිවැය
(2) සෘජු ද්‍රව්‍ය පිරිවැය, සෘජු ශ්‍රම පිරිවැය, සෘජු වෙනත් වියදම්, නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය
(3) වක්‍ර ද්‍රව්‍ය පිරිවැය, වක්‍ර ශ්‍රම පිරිවැය, වක්‍ර වෙනත් වියදම්, නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය
(4) සෘජු ද්‍රව්‍ය පිරිවැය, සෘජු ශ්‍රම පිරිවැය, සෘජු වෙනත් වියදම්, නිෂ්පාදන පිරිවැය

● පහත තොරතුරු ඇසුරෙන් අංක **33** සහ **34** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

ළමා පොත් 500 ක් මුද්‍රණය කිරීමට අදාළ වියදම් පහත දැක්වේ.

| | රු. |
|---|---|
| කඩදාසි හා තීන්ත ............................................ | 150 000 |
| මුද්‍රිත පොතකට ගෙවන පුරස්කාරය ...................... | 100 |
| මුද්‍රණ යන්ත්‍ර ක්‍රියාකරුවෙකුට ගෙවන වැටුප ......... (යන්ත්‍ර ක්‍රියාකරුවන් දෙදෙනෙක් සිටිති) | 35 000 |
| ගම්, නූල් හා වෙනත් ද්‍රව්‍ය ................................ | 5 000 |
| සුපරීක්ෂකගේ වේතන ........................................ | 25 000 |
| මුද්‍රණ අංශයේ මාසික විදුලිබිල ............................ | 20 000 |

**33.** ළමා පොත් නිෂ්පාදනයට අදාළ වක්‍ර වෙනත් වියදම්වල මුළු වටිනාකම වන්නේ
(1) රු. 20 000 කි. (2) රු. 25 000 කි. (3) රු. 50 000 කි. (4) රු. 100 000 කි.

**34.** ළමා පොතක නිෂ්පාදන පිරිවැය වන්නේ
(1) රු. 470.20 කි. (2) රු. 540.20 කි. (3) රු. 570.00 කි. (4) රු. 640.00 කි.

01030000220113168

- පහත තොරතුරු ඇසුරෙන් අංක 35 සිට 40 තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

සමන් 2023.01.01 දින රු. 500 000 ක් ආයෝජනය කර, ඉන් රු. 320 000 ක කාර්යාල උපකරණ මිල දී ගෙන සේවා සැපයීමේ ව්‍යාපාරයක් ආරම්භ කළේ ය. 2023.12.31 දිනෙන් අවසන් වර්ෂයට අදාළ තොරතුරු කිහිපයක් පහත දැක්වේ.

| | | රු. |
|---|---|---|
| **ආදායම් ලැබීම් :** | | |
| සේවා ආදායම් | - | 230 000 |
| කොමිස් ආදායම් | - | 75 000 |
| **වියදම් ගෙවීම් :** | | |
| සේවක වැටුප් | - | 120 000 |
| ප්‍රචාරණ වියදම් | - | 40 000 |
| ණය පොලී | - | 2 000 |
| ලිපිද්‍රව්‍ය වියදම් | - | 10 000 |
| විදුලි වියදම් | - | 15 000 |
| **2023.12.31 දිනට ව්‍යාපාරයේ වත්කම් :** | | |
| කාර්යාල උපකරණ (පිරිවැයට) | - | 320 000 |
| මුදල් ශේෂය | - | 50 000 |
| **2023.12.31 දිනට ව්‍යාපාරයේ වගකීම් :** | | |
| බැංකු අයිරාව | - | 10 000 |
| 10% බැංකු ණය | - | 50 000 |

**අමතර තොරතුරු :**

1. 2023.12.31 දිනට තොග කිසිවක් නොවී ය.
2. 2023 දෙසැම්බර් මාසයට අදාළ සේවක වැටුප් රු. 20 000 ක් 2023.12.31 දින තෙක් ගෙවා නැත.
3. 2023 වර්ෂයට අදාළ රු. 15 000 ක කොමිස් ආදායමක් 2023.12.31 දින වන විටත් ලැබිය යුතු ව ඇත.
4. කාර්යාල උපකරණ වාර්ෂිකව 10% බැගින් ක්ෂය කළ යුතු ය.

**35.** 2023.12.31 දිනෙන් අවසන් වර්ෂයේ ආදායම් ප්‍රකාශය තුළ දැක්වෙන සේවක වැටුප වන්නේ
(1) රු. 20 000 කි. (2) රු. 100 000 කි. (3) රු. 120 000 කි. (4) රු. 140 000 කි.

**36.** 2023.12.31 දිනෙන් අවසන් වර්ෂයේ ආදායම් ප්‍රකාශයේ ඇතුළත් ආයතන හා පරිපාලන වියදම්වල එකතුව වන්නේ
(1) රු. 145 000 කි. (2) රු. 165 000 කි. (3) රු. 177 000 කි. (4) රු. 197 000 කි.

**37.** 2023.12.31 දිනට සමන්ගේ ව්‍යාපාරයේ ජංගම වගකීම්වල එකතුව වන්නේ
(1) රු. 3 000 කි. (2) රු. 20 000 කි. (3) රු. 33 000 කි. (4) රු. 83 000 කි.

**38.** 2023.12.31 දිනට සමන්ගේ ව්‍යාපාරයේ මුළු වත්කම්
(1) රු. 338 000 කි. (2) රු. 353 000 කි. (3) රු. 370 000 කි. (4) රු. 385 000 කි.

**39.** 2023.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සමන්ගේ ව්‍යාපාරයේ ශුද්ධ ලාභය
(1) රු. 63 000 කි. (2) රු. 78 000 කි. (3) රු. 95 000 කි. (4) රු. 133 000 කි.

**40.** 2023.12.31 දිනට සමන්ගේ ව්‍යාපාරයේ මුළු හිමිකම
(1) රු. 563 000 කි. (2) රු. 578 000 කි. (3) රු. 595 000 කි. (4) රු. 633 000 කි.

* *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**60 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023 (2024)

| | |
|---|---|
| ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය | I, II |
| வணிகக் கல்வியும் கணக்கீடும் | I, II |
| Business and Accounting Studies | I, II |

## ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය II

**උපදෙස්:**

* **පළමුවන** ප්‍රශ්නය ඇතුළුව **I** කොටසෙන් ප්‍රශ්න **දෙකක්** ද, **II** කොටසෙන් ප්‍රශ්න **දෙකක්** ද බැගින් තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* උපදෙස් දී ඇති පරිදි ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න. ඊට වැඩියෙන් ලියා ඇති පිළිතුරු, අයදුම්කරු විසින් කපා හැර නොමැති අවස්ථාවල දී ලකුණු නොකර ම කපා හරිනු ලැබේ.

1. පහත සිද්ධිය ඇසුරෙන් අංක (i) සිට (x) දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

පාරම්පරික වෙද පවුලකින් පැවත එන අමිල, ගිරන්කුල ග්‍රාමයෙහි ආයුර්වේද වෛද්‍යවරයෙකි. ඔහු තම පියා විසින් ලබා දුන් රු. 500 000 ක් වටිනා ගොඩනැගිල්ලෙහි අක්ෂි රෝග සඳහා ආයුර්වේද ඖෂධ නිෂ්පාදන සකස් කර, විකිණීමේ ව්‍යාපාරයක් රු. 800 000 ක් මුදලින් යොදා 2024.01.01 දින 'ආයුරා' නමින් ආරම්භ කරන ලදී. එදින ම ඔහු රු. 400 000 ක යන්ත්‍ර හා උපකරණ මිල දී ගත්තේ ය. 'ආයුරා' නිෂ්පාදන සඳහා අවශ්‍ය අමුද්‍රව්‍ය සමහරක් ගිරන්කුල ග්‍රාමයෙන් මිල දී ගනියි. අමුද්‍රව්‍යවල ගුණත්වය ආරක්ෂා වන පරිදි හිරු එළියේ වේලා ඒවා ඖෂධ නිෂ්පාදන සඳහා යොදා ගනියි.

2024.01.31 දිනෙන් අවසන් මාසය තුළ සිදු වූ ගනුදෙනු පහත දැක්වේ.

| | රු. |
|---|---|
| අමුද්‍රව්‍ය මිල දී ගැනුම ..................................... | 350 000 |
| දුරකථන වියදම ..................................... | 5 000 |
| වැටුප් - නිෂ්පාදන සේවක ..................................... | 45 000 |
| විකුණුම් සේවක ..................................... | 60 000 |
| අනෙකුත් නිෂ්පාදන වියදම් ..................................... | 30 000 |
| ප්‍රචාරණ වියදම ..................................... | 15 000 |
| බෙදාහැරීමේ රථ කුලී ..................................... | 150 000 |
| ණයට විකුණුම ..................................... | 900 000 |

**අමතර තොරතුරු:**

- 2024.01.31 දිනට අමුද්‍රව්‍ය තොග සහ නිමි භාණ්ඩ තොග කිසිවක් නොමැත.
- යන්ත්‍ර හා උපකරණ වාර්ෂිකව 6% බැගින් සරල මාර්ග ක්‍රමයට ක්ෂය කළ යුතු ය.
- 2024.01.31 දිනට මාසික විදුලිබිල රු. 10 000 ක් ගෙවා නොමැත.

දුරකථනය, ෆැක්ස් පණිවුඩ හා විද්‍යුත් තැපැල මගින් ලබා ගන්නා දේශීය පාරිභෝගිකයින්ගේ ඇණවුම් බෙදාහැරීම ව්‍යාපාරය විසින් සිදු කරනු ලබයි. විදේශීය පාරිභෝගිකයින්ගෙන් මාර්ගගත ඇණවුම් ලබා ගැනීම සඳහා වෙබ් පිටුවක් නිර්මාණය කරමින් පවතින අතර ව්‍යාපාරයට සාජු මාර්ගගත ගෙවීම් කවුළුවක් ලබා ගැනීමට තීරණය කර ඇත.

(i) (අ) 'ආයුරා' ව්‍යාපාරය සපුරාලනු ලබන මූලික මිනිස් අවශ්‍යතාව කුමක් ද?

(ආ) 'ආයුරා' ව්‍යාපාරය අරමුණ අනුව අයත්වන ව්‍යාපාර සංවිධාන වර්ගය කුමක් ද?

(ii) (අ) 'ආයුරා' ව්‍යාපාරයේ ශක්තියක් හා අවස්ථාවක් සඳහා නිදසුන බැගින් ලියන්න.

(ආ) විද්‍යුත් ලිඛිත සන්නිවේදන මාධ්‍ය සඳහා ඉහත සිද්ධියේ ඇතුළත් සන්නිවේදන ක්‍රම දෙකක් ලියන්න.

(iii) 'ආයුරා' ව්‍යාපාරයේ පහත එක් එක් දෑ අයත් වන නිෂ්පාදන සාධකය නම් කරන්න.

(අ) නිෂ්පාදන සේවකයෝ

(ආ) ව්‍යාපාර ගොඩනැගිල්ල

(ඇ) අමුද්‍රව්‍ය වියළීම සඳහා භාවිත කරන හිරුඑළිය

(ඈ) අමිලගේ ව්‍යාපාර සංවිධාන හැකියාව

(iv) (අ) ඉහත සිද්ධියේ ඇතුළත් කළමනාකරණ කාර්යයන් වන සැලසුම්කරණය හා සංවිධානකරණය සඳහා නිදසුන බැගින් ලියන්න.

(ආ) මාර්ගගත ක්‍රමයට ඇණවුම් ලබා ගැනීම අයත්වන අලෙවිකරණ මිශ්‍රයේ විචල්‍යය කුමක් ද?

(v) 2024.01.01 දිනට 'ආයුරා' ව්‍යාපාරයේ මූලික ගිණුම්කරණ සමීකරණය වටිනාකම් සහිතව ලියන්න.

(vi) විකුණුම් රු. 900 000 සටහන් කිරීමට අදාළ

(අ) මූලාශ්‍ර ලේඛනය කුමක් ද?

(ආ) මූලික පොත කුමක් ද?

(vii) (අ) 2024.01.31 දිනෙන් අවසන් මාසය සඳහා පිළියෙල කරනු ලබන ලාභ හෝ අලාභ ප්‍රකාශනයේ දැක්වෙන යන්ත්‍ර හා උපකරණවල ක්ෂය වටිනාකම කොපමණ ද?

(ආ) ඉහත (vii) (අ) හි සඳහන් කළ ක්ෂය වටිනාකම ගිණුම්ගත කිරීමට අදාළ ද්විත්ව සටහන ලියන්න.

(viii) (අ) 'ආයුරා' නිෂ්පාදනවල ප්‍රාථමික පිරිවැයට ඇතුළත් වන වියදම් **දෙකක්** වටිනාකම් සහිතව ලියන්න.

(ආ) 'ආයුරා' ව්‍යාපාරයේ විකිණීමේ හා බෙදාහැරීමේ වියදම් **දෙකක්** වටිනාකම් සහිතව ලියන්න.

(ix) 2024.01.31 දිනෙන් අවසන් මාසය සඳහා ආයුරා ව්‍යාපාරයේ ලාභය හෝ අලාභය ගණනය කරන්න.

(x) (අ) 2024.01.31 දිනට 'ආයුරා' ව්‍යාපාරයේ ජංගම නොවන වත්කම්වල මුළු වටිනාකම කොපමණ ද?

(ආ) 2024.01.31 දිනට 'ආයුරා' ව්‍යාපාරයේ හිමිකම කොපමණ ද?

**(ලකුණු 02 × 10 = 20 යි)**

## I කොටස - ව්‍යාපාර අධ්‍යයනය

(ප්‍රශ්න **දෙකකට** පමණක් පිළිතුරු සපයන්න.)

**2.** (i) කේවල ස්වාමි ව්‍යාපාරයක දැකිය හැකි ලක්ෂණ **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) පහත සඳහන් ප්‍රකාශ **සත්‍ය** ද **අසත්‍ය** ද යන්න දක්වන්න.

(අ) ව්‍යාපාර සංවිධාන අයිතිය අනුව පෞද්ගලික හා පොදු අංශ ලෙස වර්ග කෙරේ.

(ආ) අභ්‍යන්තර පරිසර සාධක අධ්‍යයනය තුළින් ව්‍යාපාර අවස්ථා හා ශක්තීන් හඳුනා ගැනේ.

(ඇ) ව්‍යාපාර ගොඩනැගිල්ල පිහිටි ඉඩම සැම විට ම නිෂ්පාදන සාධකයක් වන භූමියට අයත් වේ.

(ඈ) ව්‍යාපාරයක අයිතිකරු ව්‍යාපාර සංවිධාන වර්ගය කුමක් වුව ද අසීමිත වගකීමකට යටත් වේ.

(ලකුණු 02 යි)

(iii) පහත දැක්වෙන්නේ ව්‍යාපාර වර්ග දෙකකි.

**A** – කොළඹ ජාතික රෝහල

**B** – සුමග රියදුරු පාසල

(අ) ඉහත **A** හා **B** සපුරාලන මිනිස් අවශ්‍යතා මොනවා ද?

(ආ) ඉහත **A** හා **B** ව්‍යාපාර නිෂ්පාදිතයේ ස්වභාවය අනුව වර්ග කර දක්වන්න. (ලකුණු 02 යි)

(iv) මහා පරිමාණ සුපිරි වෙළෙඳසැල් ජාලයක් හිමි අරවින්ද ගනුදෙනුකරුවන්ගේ අවශ්‍යතා හඳුනාගෙන, වට්ටම් තීරණය කිරීම සඳහා කෘත්‍රිම බුද්ධිය හා රෝබෝවරුන් යොදා ගැනීමට තීරණය කර ඇත.

(අ) ඉහත සිද්ධියේ සුපිරි වෙළෙඳසැල අයත් වන ව්‍යාපාර සංවිධාන වර්ගය කුමක් ද?

(ආ) ඉහත සිද්ධියේ ඇතුළත් තාක්ෂණික පරිසර සාධකයක් ලියන්න.

(ලකුණු 02 යි)

**(මුළු ලකුණු 08 යි)**

3. (i) දේපළ රක්ෂණය හා ජීවිත රක්ෂණය අතර ඇති වෙනස්කම් **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) පහත සඳහන් ප්‍රකාශ **සත්‍ය** ද **අසත්‍ය** ද යන්න දක්වන්න.

(අ) බැංකු අයිරා පහසුකම් ලබා ගැනීමට වාණිජ බැංකුවක ඉතිරිකිරීමේ ගිණුමක් තිබීම අවශ්‍ය වේ.

(ආ) විද්‍යුත් තැපැල, ව්‍යාපාරයක අභ්‍යන්තර මෙන්ම බාහිර සන්නිවේදන ක්‍රමයකි.

(ඉ) හානිපූරණ මූලධර්මය ජීවිත රක්ෂණයට අදාළ නොවේ.

(ඊ) යාපනය දුම්රිය ස්ථානය ප්‍රවාහන මූලිකාංගයක් වන පර්යන්තයට නිදසුනකි. (ලකුණු 02 යි)

(iii) ඇඟලුම් නිෂ්පාදන ව්‍යාපාරයක් පවත්වාගෙන යන අමර, මිලදී ගත් අමුද්‍රව්‍ය සඳහා සරත්ට රු. 100 000 ක චෙක්පතක් නිකුත් කරන ලදී. අමර තම ජංගම ගිණුම මහජන බැංකුවේ පවත්වාගෙන යනු ලබන අතර, සරත් ලංකා බැංකුවේ පවත්වා ගෙන යයි.

(අ) ඉහත සිද්ධියෙහි ඇතුළත් චෙක්පතෙහි අණලදු හා අණකරු නම් කරන්න.

(ආ) අමරගෙන් ලද චෙක්පත සම්බන්ධයෙන් සරත්ට ගත හැකි ක්‍රියාමාර්ග **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(iv) බෑග් නිෂ්පාදන ව්‍යාපාරයක කළමනාකරු වන දීපාල්ට, ගනුදෙනුකරුවෙකු විසින් බෑග් 50 ක් අවශ්‍ය බව දුරකථනයෙන් ඇනුම් දුන්නේ ය. දීපාල් ඇණවුම භාර ගෙන දින දෙකක් ඇතුළත බෑග් සපයන බවට සහතික විය. ඉහත සිද්ධියට අදාළ සන්නිවේදන ක්‍රියාවලියේ එක් එක් සන්නිවේදන මූලිකාංගය සඳහා නිදසුන් ලියන්න. (ලකුණු 02 යි)

**(මුළු ලකුණු 08 යි)**

4. (i) 'ඉලක්ක වෙළෙඳපොළක්' යනු කුමක් ද? (ලකුණු 02 යි)

(ii) පහත සඳහන් ප්‍රකාශ **සත්‍ය** ද **අසත්‍ය** ද යන්න දක්වන්න.

(අ) ඉහළ ප්‍රතිලාභයක් අපේක්ෂිත ආයෝජනවල ඉහළ අවදානමක් ගම්‍ය වේ.

(ආ) ව්‍යාපාර ආයතනයක් විසින් ලබා දෙන වට්ටම් අලෙවිකරණ මිශ්‍රයේ මිල විචල්‍යයට අයත් වේ.

(ඉ) කළමනාකරණ ක්‍රියාවලියේ පළමු කාර්යය සංවිධානකරණයයි.

(ඊ) රජයට අවශ්‍ය දිගුකාලීන ප්‍රාග්ධන අවශ්‍යතා සපුරාගැනීම සඳහා භාණ්ඩාගාර බිල්පත් නිකුත් කරයි. (ලකුණු 02 යි)

(iii) පහත දැක්වෙන්නේ අලෙවි කළමනාකරුවෙකු විසින් හඳුන්වා දීමට යෝජිත උණුසුම රඳවන වතුර බෝතලයක් පිළිබඳ ප්‍රකාශ කිහිපයකි.

A – බෝතලයේ උස 15 cm වන අතර, කොළ පැහැය සහිත වේ.

B – මූලික හඳුන්වාදීම පාසල් අසල සිදු කරයි.

C – පිරිවැයට 10% ක ලාභාන්තිකයක් සහිතව මිල කරයි.

D – ප්‍රචාරණය රූපවාහිනිය මගින් සිදු කරයි.

ඉහත **A, B, C** හා **D** යන එක් එක් ප්‍රකාශවල ඇතුළත් අලෙවිකරණ මිශ්‍රයේ විචල්‍යය ලියන්න. (ලකුණු 02 යි)

(iv) රුවිනි තම ඉතිරිකරගත් මුදල් පහත දැක්වෙන ආයෝජනවල ආයෝජනය කිරීමට අදහස් කරයි.

A – කොළඹ කොටස් හුවමාරුවේ ලැයිස්තුගත සමාගම්වල

B – රාජ්‍ය බැංකුවක ස්ථාවර තැන්පතුවක

C – රාජ්‍ය බැංකුවක ඉතිරි කිරීමේ තැන්පතුවක

D – ස්වර්ණාභරණ මිල දී ගැනීමට

(අ) රුවිනි ප්‍රාග්ධන ලාභ ලැබීමට අදහස් කරයි නම් ඔබ නිර්දේශ කරන ආයෝජනය කුමක් ද?

(ආ) රුවිනි ස්ථාවර මාසික පොලියක් ලැබීමට අදහස් කරයි නම්, ඔබ නිර්දේශ කරන ආයෝජනය කුමක් ද? (ලකුණු 02 යි)

**(මුළු ලකුණු 08 යි)**

## II කොටස - ගිණුම්කරණය

(ප්‍රශ්න **දෙකකට** පමණක් පිළිතුරු සපයන්න.)

5. (i) 'ගිණුම්කරණය' යනු කුමක් ද? (ලකුණු 02 යි)

(ii) පහත සඳහන් එක් එක් ගිණුම අයත්වන ගිණුම් වර්ගය සඳහන් කරන්න.

(අ) ණයගැති ගිණුම

(ආ) ගැනිලි ගිණුම

(ඉ) [illegible]

(ඊ) බැංකු ණය ගිණුම

(ලකුණු 02 යි)

(iii) (අ) 2024.01.01 දින සහන් රු. 100 000 ක් යොදා ව්‍යාපාරයක් ආරම්භ කළේ ය. මෙම ගනුදෙනුවෙන් පසු සහන්ගේ ව්‍යාපාරයේ ගිණුම්කරණ සමීකරණය ලියන්න.

(ආ) ඉහත (iii) (අ) හි සඳහන් සහන්ගේ ව්‍යාපාරයේ ගිණුම්කරණ සමීකරණය එක් ගනුදෙනුවකින් පසු පහත දැක්වෙන පරිදි විය.

| වත්කම් | = | හිමිකම් | + | වගකීම් |
|---|---|---|---|---|
| රු. 200 000 | | රු. 100 000 | | රු. 100 000 |

එම ගනුදෙනුවෙන් මුදල් වත්කම් රු. 100 000 කින් වැඩි විය. සිදු වී ඇති ගනුදෙනුව ලියන්න.

(ඉ) පුබුදුගේ ව්‍යාපාරයේ සිදු වූ ගනුදෙනු කිහිපයක් පහත දැක්වේ.

1. රු. 10 000 ක භාණ්ඩ තොගයක් ණයට ගැනීම
2. රු. 20 000 ක් ණයගැතියෙකුගෙන් ලැබීම
3. රු. 35 000 ක් වූ බඩු තොගයක් රු. 50 000 කට ණයට විකිණීම

ඉහත එක් එක් ගනුදෙනුව පුබුදුගේ ව්‍යාපාරයේ ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරය දක්වන්න. (පිළිතුරු සැපයීමට පහත දැක්වෙන පරිදි ආකෘතියක් භාවිත කරන්න. පළමු ගනුදෙනුවේ බලපෑම දී ඇත.)

| ගනුදෙනු අංකය | වත්කම් | හිමිකම් | වගකීම් |
|---|---|---|---|
| 1 | වැඩිවේ | – | වැඩිවේ |
| 2 | | | |
| 3 | | | |

(ලකුණු 04 යි)

(iv) 2024.03.01 දිනට සුරන්ගේ ව්‍යාපාරයේ මුදල් පොතේ ශේෂය රු. 15 800 ක් විය. 2024 මාර්තු මාසයේ මුදල් ගනුදෙනුවලට අදාළ තොරතුරු පහත දී ඇත.

| දිනය | ලදුපත් අංකය | වවුචර් අංකය | විස්තරය |
|---|---|---|---|
| 2024.03.05 | 15 | - | රු. 35 000 කට භාණ්ඩ අත්පිට විකිණීම |
| 2024.03.10 | - | 24 | රු. 60 000 ක ලී බඩු මිල දී ගැනීම |
| 2024.03.17 | 16 | - | ණයගැතියකුගෙන් රු. 45 000 ක් ලැබීම |
| 2024.03.29 | - | 25 | රු. 15 000 ක විදුලි බිල ගෙවීම |

**අවශ්‍ය වන්නේ :**

සුරන්ගේ ව්‍යාපාරයේ මුදල් පොත පිළියෙල කර 2024.03.31 දිනට මුදල් ශේෂය දැක්වීම (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

**6.** (i) ව්‍යාපාරයේ බැංකු ගිණුමේ හා බැංකු ප්‍රකාශනයේ අවසාන ශේෂ අසමානවීමට බලපෑ හේතු දෙකක් පහත දැක්වේ.

1. නිකුත් කළ නමුත් බැංකුවට ඉදිරිපත් නොවූ චෙක්පත්
2. තැන්පත් කළ නමුත් උපලබ්ධි නොවූ චෙක්පත්

ඉහත සඳහන් එක් එක් හේතුව නිසා ව්‍යාපාරයේ බැංකු ගිණුමේ ශේෂය අඩු වේ ද, වැඩි වේ ද යන්න සඳහන් කරන්න. (ලකුණු 02 යි)

(ii) පහත සඳහන් එක් එක් නිෂ්පාදිතයට අදාළ පිරිවැය වර්ගය සඳහා නිදසුනක් බැගින් ලියන්න.

| අංකය | නිෂ්පාදිතය | පිරිවැය වර්ගය | නිදසුන |
|---|---|---|---|
| 1 | පාන් | සෘජු ද්‍රව්‍ය පිරිවැය | ........................ |
| 2 | පාසල් නිල ඇඳුම් | සෘජු ශ්‍රම පිරිවැය | ........................ |

(ලකුණු 02 යි)

(iii) නිමන්තිගේ පාපිස්නා මැසීමේ ව්‍යාපාරයේ 2024 අප්‍රේල් මාසයට අදාළ තොරතුරු පහත දැක්වේ.

| | රු. |
|---|---|
| රෙදි කැබලි මිලට ගැනීම | 60 000 |
| රෙදි මැසීමේ යන්ත්‍රයක් ණයට ගැනීම (මෙය වාර්ෂිකව 10% බැගින් ක්ෂය කරයි) | 120 000 |
| නූල්, ඉඳිකටු හා වෙනත් අවශ්‍ය දෑ ගැනීම | 2 000 |
| පාපිසි මසන්නාට වැටුප් ගෙවීම | 40 000 |
| මසන ස්ථානය පිරිසිදු කරන්නාට වැටුප් ගෙවීම | 10 000 |
| අප්‍රේල් මාසයේ විදුලිබිල ගෙවීම | 5 000 |
| ව්‍යාපාර ස්ථානයේ මාසික කුලිය ගෙවීම | 8 000 |

- එක් පාපිස්නාවක නිෂ්පාදන පිරිවැය රු. 126 කි.

**අවශ්‍ය වන්නේ :**

(අ) 2024 අප්‍රේල් මාසයේ නිෂ්පාදන පිරිවැය ලේඛනය

(ආ) 2024 අප්‍රේල් මාසයේ නිෂ්පාදනය කළ පාපිසි සංඛ්‍යාව (ලකුණු 04 යි)

(iv) ව්‍යාපාරයක ආධුනික ගිණුම් ලිපිකරු විසින් 2024.03.31 දිනට පිළියෙල කළ බැංකු සැසඳුම් විස්තරය පහත දැක්වේ.

බැංකු සැසඳුම් විස්තරය

| | රු. | රු. |
|---|---|---|
| 2024.03.31 දිනට බැංකු ගිණුමේ ශේෂය | | 33 000 |
| **එකතු කළා :** ණයගැති සෘජු ප්‍රේෂණ | 13 000 | |
| තැන්පත් කළ නමුත් උපලබ්ධි නොවූ චෙක්පත් | 24 000 | 37 000 |
| | | 70 000 |
| **අඩු කළා :** බැංකු ණය වාරිකය | 5 000 | |
| චෙක්පොත් ගාස්තුව | 1 000 | |
| නිකුත් කළ නමුත් ඉදිරිපත් නොවූ චෙක්පත් | 15 000 | (21 000) |
| බැංකු ප්‍රකාශනයේ ශේෂය | | 49 000 |

**අවශ්‍ය වන්නේ :**

(අ) 2024.03.31 දිනට බැංකු ගිණුමේ ශේෂය සංශෝධනය කිරීම

(ආ) 2024.03.31 දිනට නිවැරදි බැංකු සැසඳුම් විස්තරය පිළියෙල කිරීම (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

7. (i) ලාභ අරමුණු කර නොගත් සංවිධානයක ලැබීම් හා ගෙවීම් ගිණුමේ බැරට සටහන් කරන එහෙත් ආදායම් හා වියදම් ගිණුමේ ඇතුළත් **නොකරන** අයිතම **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) දිලෙන තරු ක්‍රීඩා සමාජයේ 2023.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා පිළියෙල කළ ගිණුම් පොත්වලින් උපුටාගත් තොරතුරු කිහිපයක් පහත දැක්වේ.

| **වර්ෂය තුළ ලැබීම්** | **වර්ෂය තුළ ගෙවීම්** |
|---|---|
| සාමාජික මුදල් රු. 30 000 | ක්‍රීඩාගාරය නඩත්තු වියදම් රු. 12 000 |
| පරිත්‍යාග රු. 10 000 | විදුලිය ගාස්තු රු. 8 000 |

**අතිරේක තොරතුරු :**

- 2023.12.31 දිනට ලැබිය යුතු සාමාජික මුදල් රු. 2 000 කි.
- 2023.12.31 දිනට උපචිත විදුලි ගාස්තු රු. 6 000 කි.

**අවශ්‍ය වන්නේ :**

දිලෙන තරු ක්‍රීඩා සමාජයේ 2023.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා පිළියෙල කරන ආදායම් හා වියදම් ගිණුමේ ඇතුළත් කළ යුතු අයිතම **හතරක්** වටිනාකම් සහිතව ලියන්න. (ලකුණු 02 යි)

(iii) දුමින්දගේ සිල්ලර වෙළෙඳ ව්‍යාපාරයේ 2023.12.31 දිනට ශේෂ පිරික්සුම පහත දැක්වේ.

| | හර (රු.) | බැර (රු.) |
|---|---|---|
| ගැනුම් | 380 000 | |
| විකුණුම් | | 550 000 |
| 2023.01.01 දිනට තොගය | 80 000 | |
| ගෙනඒමේ කුලී | 10 000 | |
| ණයගැතියෝ | 190 000 | |
| ණයහිමියෝ | | 244 000 |
| 10% බැංකු ණය | | 100 000 |
| ගෙවූ ණය පොලී | 6 000 | |
| බෙදාහැරීමේ රථ (පිරිවැයට) | 400 000 | |
| බෙදාහැරීමේ රථ ක්ෂය වෙන් කිරීම (2023.01.01 දිනට) | | 40 000 |
| ලී බඩු හා උපකරණ (පිරිවැයට) | 120 000 | |
| විදුලි ගාස්තු | 60 000 | |
| ප්‍රචාරණ වියදම් | 44 000 | |
| මුදල් ශේෂය | 44 000 | |
| ප්‍රාග්ධනය | | 400 000 |
| | 1 334 000 | 1 334 000 |

**අතිරේක තොරතුරු :**

- 2023.12.31 දිනට තොගය රු. 88 000 කි.
- බෙදාහැරීමේ රථ වාර්ෂිකව 5% බැගින් ද, ලී බඩු හා උපකරණ වාර්ෂිකව 10% බැගින් ද, සරල මාර්ග ක්‍රමයට ක්ෂය කරනු ලබයි.

**අවශ්‍ය වන්නේ :**

(අ) දුමින්දගේ ව්‍යාපාරයේ 2023.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ලාභ හෝ අලාභ ප්‍රකාශනය (ලකුණු 04 යි)

(ආ) 2023.12.31 දිනට දුමින්දගේ ව්‍යාපාරයේ මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

* * *